

පුංචි ඇත්තන්ට

# ඇත්ත කතා

ලෙව් තොල්ස්තෝයි

ලෙෆ් තොල්ස්තෝයි

# පුංචි ඇත්තන්ට
# ඇත්ත කතා

පරිවර්තනය

**රන්ජන දේවමිත්‍ර සේනාසිංහ**



# විසි කළ පාර්සලය

එක දුප්පත් අම්මා කෙනකුට මාෂායි කියලා දුවෙක් හිටියා. මාෂා උදේ ම නැගිටලා වතුර ගේන්න ළිඳට යන්න යනකොට එළියෙ දොර අයිනෙ රෙදි කෑලිවලින් ඔතපු පාර්සලයක් තියෙනවා දැක්කා. බාල්දිය පැත්තකින් තියපු මාෂා රෙදි කෑලි දිගහරින්න පටන් ගත්තා. ඇය රෙදි කෑලිවලට අත තිබ්බා විතරයි, 'ඔ-ඇ', 'ඔ-ඇ', ඔ-ඇ' කියලා රෙදි කෑලි අස්සෙන් කෑගැසීමක් ඇසුණා.

මාෂා පහත් වෙලා බැලුවම එතැන හිටියේ රතුපාට ලස්සන පුංචි දරු පැටියෙක්. 'ඔ-ඇ', 'ඔ-ඇ', ඔ-ඇ' කියලා එයා මහා සද්දෙන් කෑ ගෑවා. මාෂා එයාව දෑතට අරගෙන ගෙදරට ගෙනගිහින් පොඩි හැන්දකින් කිරි පොවන්න පටන් ගත්තා.

ඒ වෙලාවෙදි ''ඔයා මොකක්ද අරගෙන ආවෙ?'' කියලා අම්මා ඇහුවා.

''අපෙ ගේ දොරකඩ ඉඳලා මං පුංචි දරු පැටියෙක් අරගෙන ආවා''

''අපිටත් කන්න නැතුව ඉඳගෙන තව පොඩි ළමයකුටත් කන්න දෙන්නෙ කොහොමද? මං ගම්මුලාදෑනියා හමුවෙලා ළමයාව එයාට බාර දෙනවා''

එතකොට මාෂා අඬන්න පටන් ගත්තා.

''එයා මහ ගොඩක් කන්නෙ නෑනෙ. අපි එයාව තියා ගමු. මේ බලන්නකො, එයාගෙ රැලි වැටුණු රතු පාට චූටි අත් පොඩියි, ඇඟිලි පොඩියි'' කියලා මාෂා කිව්වා.

අම්මා ඒ දිහා බැලුවා. ඈට දුක හිතුනා. ඈ දරුවා ගෙදර තියා ගත්තා. මාෂා එයාට කැව්වා, රෙදිවලින් ඔතලා උණුසුම් කළා. එයා නිදාගන්න යනකොට කවි, සින්දු කිව්වා.





# ගින්න

ගොවියොයි ගෙවිලියොයි කුඹුරු වැඩට ගියා. ගමේ ඉතුරු වුණේ වයසක උදවියයි, ළමයිනුයි විතරයි. එක පැල්පතක ඉතුරු වුණේ අත්තම්මයි, එයාගෙ මුනුබුරු මිනිබිරියො තුන්දෙනයි. අත්තම්මා ගෙදර මහ උඳුනට දර දාලා වෙහෙස නිවා ගන්න ඇලවුණා. එතකොට ඇගේ මැස්සො වහලා විදින්න පටන් ගත්තා. අත්තම්මා තුවායකින් ඔලුව වහගත්තා. ඈට නොදැනිම නින්ද ගියා.

ඇගේ මිනිබිරියගෙ නම මාෂා. ඈට වයස අවුරුදු තුනයි. මාෂා මහ උඳුන ඇරලා, කොළපතකට ගිනියම් වුණු අඟුරු කැට ටිකක් දාගෙන ගේ පිළිකන්නේ පිදුරු මැස්සට ගියා. පිදුරු මැස්සේ පිදුරු මිටි බැඳලා තිබුණා. ගෙවිලියො ඒ පිදුරු මිටි ගොඩගහලා තිබුණේ පිදුරු කඹ අඹරන්න. අඟුරු ටික අරගෙන ඇවිත් පිදුරු මිටි යටින් තියලා මාෂා ඒකට පිඹින්න පටන් ගත්තා. පිදුරුවලට ගිනි ඇවිලෙනවා දුටු ඈ සතුටු වෙලා, පැල ඇතුලේ හිටි ඇගේ මල්ලී කිරිල්ව අතින් ඇදගෙන ඇවිත් ගිනි ගන්න හැටි පෙන්නුවා. කිරිල්ට වයස අවුරුදු එකහමාරයි. යන්තම් දෙපයින් ඇවිදින්න පටන් ගත්තා විතරයි.

''කිරිල් මල්ලියෙ, බලාපන්කො, ගිනි පිඹලා, පිඹලා මං කොච්චර ලොකු උඳුනක්ද හැදුවේ කියලා'' මාෂා මල්ලිට කිව්වා.

එතකොටත් පිදුරු මිට්වලට ගිනි අරගෙන 'පට-පට' ගාලා පිපිරෙමින් ඇවිලෙනවා. පිදුරු මඩුවම දුමෙන් වැහී ගියාට පස්සේ තමයි මාෂාට බය හිතිලා ආපහු පැල ඇතුළට දුවලා ගියේ. කිරිල්ගේ කකුල පැටලිලා ගේ දොරකඩ බිම ඇදගෙන වැටුණා. එයාගෙ නහය බිම ඇණිලා කෑ ගහලා අඩන්න වුණා. මාෂා එයාව පැල ඇතුළට ඇදගෙන ගියා. ඒ දෙන්නම බයේ පිල යට හැංගුණා. නිදා හිටිය අත්තම්මට මේ මොකවත් ඇහුණේ නෑ.

ළමයි තුන් දෙනාගෙන් වැඩිමලා වාන්යා. එයාට අවුරුදු අටයි. එයා ඒ වෙලාවෙ හිටියෙ ගෙදරින් ටිකක් එහාට වෙන්න. පිදුරු මැස්සෙන් දුම් නගින හැටි දැකපු වාන්යා දුවගෙන ඇවිත් දුම මැද්දෙන් පැල ඇතුළට ගිහින් අත්තම්මාව නින්දෙන් අවදි කළා. ඒත් නිදිමරගාතෙන් හිටි අත්තම්මා තැති ගැන්මෙන් කොච්චර බයවුණාද කිව්වොත් ඇට දරුවන් ගැන මතකම නැතුව ගියා. පැලෙන් එළියට දුවලා ගිය අත්තම්මා ගෙයක් ගානේ ගිහින් මිනිසුන්ට අඬගහන්න පටන් ගත්තා. එතකොටත්





මාෂායි මල්ලියි පිල යට. මාෂා කටක් ඇරියේ නෑ. පොඩි දරුවා විතරක් කෑගෑවා. ඒ, එයාගේ නහය බිඳීගිය වේදනාව හන්දා.

ඒ කෑගෑම වාන්යාට ඇහුණා. පිල යටට එබිකම් කරලා, වාන්යා මාෂාට කෑගෑවා.

''දුවපන්, පිච්චිලා මැරේවි''

මාෂා පිදුරු මැස්ස පැත්තට දිවුවා. ඒත් දුමත් ගින්දරත් නිසා එතැනින් එහාට යා ගන්න බැරිවුණා. ඈ ආපහු ආවා. වාන්යා ජනේලය ඇරලා



මාෂාට ජනේලයෙන් එළියට පනින්නැයි කිව්වා. මාෂා පැන්නට පස්සේ වාන්යා අයියා කිරිල් මල්ලිව අල්ලලා ඇදලා ගත්තා. මල්ලිගේ බර වැඩි නිසා වාන්යාට එයාව වඩාගන්න අමාරු වුණා. ඒ මදිවට අඬ අඬා හිටි කිරිල්, වාන්යා අයියාව තල්ලු කළා. මල්ලිව වඩාගෙන ජනේලය ළඟට එන අතරෙ වාන්යා දෙවරක්ම බිම ඇදගෙන වැටුණා. මේ වෙනකොට පැල්පතේ දොරටත් ගිනි ඇවිලිලා. වාන්යා අයියා හැදුවේ, මල්ලිගේ ඔලුව අල්ලලා ජනේලයෙන් එළියට දාලා පස්ස පැත්තෙන් තල්ලු කරන්නයි. ඒත් හොඳටම බයවෙලා හිටි කිරිල් තව තවත් හයියෙන් අයියාව බදාගත්තා මිසක් අතහැරියේ නෑ. ඒ වෙලාවේ වාන්යා නංගිට කෑගෑවා.

''මාෂා, කිරිල්ගේ ඔලුවෙන් ඇදලා ගනින්''

වාන්යා කිරිල්ගේ පස්ස පැත්තෙන් තල්ලු කළා. අන්න එහෙමයි අයියයි අක්කයි එකතු වෙලා මල්ලිව ජනේලයෙන් පන්නලා එළියට අරගෙන තමනුත් එළියට පැනගත්තෙ.



# ඇඳුම් මහන්න ඉගෙන ගත්තේ කොහොමද කියලා පුංචි නැන්දා කියා දීපු හැටි

ඇඳුම් මහන්න දෙන්නයි කියලා අම්මට පෙරැත්ත කරනකොට මට වයස අවුරුදු හයයි.

''ඔයා තාම පොඩි වැඩියි. නිකම් ඉඳිකට්ටෙන් ඇඟිලි හිල් කර ගන්න එක විතරයි වෙන්නෙ'' කියලා අම්මා කිව්වා.

මම අම්මට ඉන්න දුන්නෙම නෑ, මහන්න දෙන්න කියලා ම ඉල්ලුවා. එතකොට අම්මා පෙට්ටගම ඇරලා රතු රෙදි කෑල්ලක් ගත්තා. ඉඳිකටු පෙට්ටියෙන් ඉඳිකට්ටක් අරගෙන ඒකට රතු නූලක් දැම්මා. පස්සේ මට කියා දුන්නා හරියට ඉඳිකට්ටයි රෙද්දයි අල්ලා ගන්න හැටි.

මම මහන්න පටන් ගත්තා. ඒත් පිළිවෙළකට මැස්මක් මහන්න මට බැරිවුණා. එක මැස්මක් දික් වෙනකොට තව එකක් රෙද්දේ වාටියට වැටුණා. තවත් එකක් හරස් අතට ගියා. ඊට පස්සේ ඉඳිකට්ට ගිහින් ඇඟිල්ලේ ඇනුණා. මම අඬන්නේ නැතිව වේදනාව ඉවසාගෙන හිටියා. ඒත් අම්මා ඇහුවම ''මොකද වුණේ?'' කියලා මට තවත් ඉවසා දරාගන්න බැරි වුණා, නිකම්ම ඇඬුණා. එතකොට අම්මා කිව්වා ගිහින් සෙල්ලම් කරන්න කියලා. මම නිදාගන්න ගියාම මට හීනෙනුත් පෙනුණේ මැහුම්. මම හැම වෙලාවෙම කල්පනා කළේ ඉක්මනින් ම මහන්න ඉගෙන ගන්නේ කොහොමද කියලා. මට හිතුණේ මහන්න ඉගෙන ගන්න එක කොච්චර අමාරුද කීවොත් කවදාවත්ම මට මහන්න ඉගෙන ගන්න බැරිවෙයි කියලා.

ඒත් දැන් මම ලොකු වෙලා, අම්මා කෙනෙක් වෙලා. හැබැයි මට දැන් මතක නෑ මම කොහොමද මහන්න ඉගෙනගත්තේ කියලා. මගේ දුවට මම මහන්න උගන්වනකොට, 'අනේ මේ ළමයට ඉඳිකට්ට අල්ලන්න නොතේරෙන හැටි' කියලා මටම පුදුම හිතෙනවා.





# හීලෑ ගේ කුරුලු පැටියෙක් ඇති කරපු හැටි පුංචි නැන්දා කියා දීපු අන්දම

අපේ ගෙදර ජනෙල් උළුවස්සට උඩින් ගේ කුරුල්ලෙක් කූඩුවක් බැඳලා බිත්තර පහක් දැම්මා. පිදුරු ගහෙන් ගහ, පිහාටුවෙන් පිහාටුව ගෙනැල්ලා උළුවස්ස උඩින් තිය තියා කූඩුව බැඳපු හැටි මම අක්කයි නංගියි එක්ක බලාගෙන හිටියා. ඊට පස්සේ, ගේ කිරිල්ලිය බිත්තර දැම්මම අපිට ඇති වුණේ කියාගන්න බැරි සතුටක්. පිහාටු, පිදුරු ගස් අරගෙන ඒම නවතා දැමූ ගේ කිරිල්ලිය, ඒ කියන්නේ අම්මා, බිත්තර ගොඩ උඩ වාඩිවෙලා රකින්න පටන් ගත්තා. ගේ කුරුල්ලා, එයා තමයි තාත්තා, පණුවන් ඇහිඳාගෙන ඇවිල්ලා අම්මාට කන්න දුන්නා.

දින කිහිපයක් ගෙවිලා ගියාට පස්සේ උළුවස්සෙන් 'චීක්-චීක්' කියලා සද්දයක් අපට ඇහුණා. ගේ කුරුලු කූඩුවේ සිදුවෙලා තියෙන්නේ මොකක්ද කියලා දැනගන්න අපි එබිකම් කළා. ඒකේ හිටියා පුංචිම පුංචි කුරුලු පැටව් පස් දෙනෙක්. උන්ට අත්තටු තිබුණොත් නෑ, පිහාටු තිබුණොත් නෑ. උන්ට තිබුණේ හයියක් නැති කහපාට පුංචි හොටවල්. හැබැයි විසාල හිස්ගෙඩි.

අපට හිතුනේ උන් හරිම කැතයි කියලයි. ඒ නිසා අපි උන් දිහා බලලා සතුටු වෙන්න හිතුවේ නැහැ. හැබැයි සමහර දාට උන් කරන්නේ මොනවාද කියා අපි බලාගෙන හිටියා. කෑම සොයා ගෙනෙන්න ගේ කුරුලු අම්මා නිතරම කූඩුවෙන් පිටතට පියාඹලා ගියා. අම්මා ආපහු කූඩුවට එනකොටම පැටව් ටික කහපාට පොඩි හොටවල් ඇරගෙන හයියෙන් කෑ ගහනවා. පණුවන් කෑලිවලට කඩලා අම්මා උන්ට කන්න දෙනවා.

සතියක් ගියාට පස්සේ පොඩි ගේ කුරුලු පැටව් ටිකක් ලොකු වුණා. උන්ගේ ඇඟ පුරාම පුංචි පිහාටු ආවා. උන් ලස්සන වුණා. ඒ නිසා අපි ආයෙත් උන් කරන්නේ මොනවාද කියා බලන්න පටන් ගත්තා. අපේ ගේ කුරුල්ලන්ගෙ වැඩ කටයුතු කොහොමද කියලා දැනගන්න දවසක් දා අපි උදේම ජනේලය ළඟට ආවා. ඒ වෙලාවෙයි අපි දැක්කෙ ගේ කිරිල්ලිය ජනෙල් පඩිය උඩ මැරී වැටී ඉන්නවා. හැන්දෑවෙ ගෙදර ඇවිත් ජනේලය උඩ ගැට්ටේ වහලා ඉඳලා නින්ද ගිහින් ඉන්දැද්දි ජනේලය වහනකොට ඒකට අහුවෙලා මැරෙන්න ඇති කියලයි අපි හිතුවෙ.

අපි ගේ කුරුලු අම්මව එතැනින් අරගෙන තණ ගොල්ලට විසිකළා. පැටව් ටික කෑ ගෑවා, ඔලු කූඩුවෙන් එළියට දාගෙන කටවල් ඇරගෙන බලා හිටියා. ඒත් උන්ගේ බඩ පුරවන්න කෙනෙක් හිටියේ නෑ.

ඒ වෙලාවේ අක්කා මෙහෙම කිව්වා.

''දැන් මේ පැටවුන්ට අම්මෙක් නෑනෙ. උන්ට කන්න දෙන්න කවුරුත් නෑ. අපි උන්ට කන්න දෙමු.''

ඒ අදහසට හැමෝම කැමති වුණා. පෙට්ටියක් අරගත්තා, ඒකෙ අඩියට කපු රෙදි කෑල්ලක් දැම්මා. පැටව් ටිකත් එක්කම කුරුලු කූඩුව අරගෙන පරිස්සමෙන් අර පෙට්ටිය ඇතුළට දාලා ගෙදර ගෙනාවා. පස්සේ අපි පොළොව හාරලා පණුවන් ඇහිඳලා, කිරිවල පාන් පොඟවලා ගේ කුරුලු පැටවුන්ට කන්න දෙන්න පටන් ගත්තා. උන් හොඳට කෑවා. හිස් ගසන්නටත් පුරුදු වුණා. පෙට්ටියේ බිත්තිවල හොට උලලා පිරිසිදු කර ගන්න ඉගෙන ගත්තා. උන් හැමෝම සතුටින් හිටියා.





ඒ විදියට දවස පුරාම අපි උන්ට කන්න දුන්නා. උන් දිහා බලලා අපි හරියට සතුටු වුණා. පහුවදා උදේ පෙට්ටිය දිහා බලනකොටයි අපි දැක්කේ පුංචිම පුංචි ගේ කුරුලු පැටියා ඒක ඇතුලේ මැරිලා ඉන්න හැටි. උගේ කකුල් කපු රෙද්දේ පැටලිලා තිබුණා. ඌව අපි එළියට විසි කළා. ඒත් එක්කම, තවත් කුරුලු පැටියකුගේ කකුල් පැටලෙන එක වලක්වන්න කපු රෙදි කෑල්ලත් එළියට ඇදලා දැම්මා. පෙට්ටියට තණකොළයි, පුළුනුයි දැම්මා. හැන්දෑ වෙනකොට තවත් පැටවු දෙන්නෙක් තමන්ගේ පියාපත් පිරිමැදලා කටවල් උඩට ඇරගෙන ඇස් පියාගත්තා. ඊට පස්සේ උන් දෙන්නත් මියගියා.

ඊට දවස් දෙකකට පස්සේ හතරවැනි ගේ කුරුලු පැටියත් මියගියා. ඉතුරු වුණේ එක පැටියයි. අපි උන්ට කන්න දුන්නා වැඩි නිසා උන් මළාය කියලා අපට දොස් අහන්නත් වුණා. තමන්ගේ ගේ කුරුලු පැටව් ගැන දුක හිතිලා අක්කා හොඳටම ඇඬුවා. අන්තිමටම ඉතුරුවුණු ගේ කුරුලු පැටියාට කෑම කැව්වේ අක්කා ම විතරයි. අපි කළේ බලා හිටිය එක විතරයි. ඉතාම සතුටින් ඉන්න, බොහොම ශක්ති සම්පන්න, කඩිසර ගේ කුරුලු පැටියා තමයි අන්තිම, පස්වැනියා. අපි එයාට 'ෂීෆ්චික්' කියලා නමකුත් දැම්මා.

පියාඹලා යන්න පුළුවන් වෙනතුරු, එයාට දාපු නමට හුරු වෙනතුරු ජීවත් වෙන්න ෂීෆ්චික්ට පුළුවන් වුණා.

''ෂීෆ්චික්, ෂීෆ්චික්'' කියලා අක්කා කතා කරන කොට ඌ පියාඹාගෙන ඇවිත් අක්කාගේ කරේ හරි, ඔලුවේ හරි, අතේ හරි වහනවා. එතකොට අක්කා ඌට කන්න දෙනවා.

ඌ ලොකු මහත් වුණාට පස්සේ තනියෙම කෑම හොයාගෙන කන්න පුරුදු වුණා. අපේ ගෙදර වහලයේ යට ලී අස්සෙ දවාලට හිටපු ගේ කුරුල්ලා, සමහර දාට ජනේලය ළඟටත් ආවා. ඒත් හැමදාම රෑට නිදාගන්න ආවේ තමන්ට පුරුදු පෙට්ටියටමයි.

දවසක් දා උදේ ඌ වෙනදා වගේ පෙට්ටියෙන් ඉගිලිලා කොහේටවත් ගියේ නෑ. උගේ පිහාටු තෙතබරිත වෙලා තිබුණා. මැරෙන්න ළං වෙලා ඉන්නකොට අනෙක් ගේ කුරුලු පැටව් කළා වගේ ම ඌත් පිහාටු පිරිමැද්දා. අක්කා 'ෂීෆ්චික්' හිටි තැනින් හෙලවුණේ නෑ. ඒත් ඌ මොනම දෙයක්වත් කෑවේවත් බීවේවත් නෑ.

තුන් දවසක් අසනීප වෙලා හිටිය 'ෂීෆ්චික්' හතරවැනි දවසෙදි මියගියා. කකුල් දෙක වකුටු කරගෙන උඩුබැලි අතට වැටිලා ඌ මැරිලා ඉන්නවා දැක්කම අපි තුන් දෙනාටම මහා හයියෙන් ඇඬුණා. අපි කොච්චර හයියෙන් ඇඬුවද කිව්වොත්, සිදුවෙලා තියෙන්නේ මොකක්ද කියලා බලන්න අපේ අම්මත් දුවගෙන ආවා. ගේ කුරුලු පැටියා මැරිලා මේසය උඩ ඉන්න හැටි දක්කම අම්මට තේරුම් ගියා අපි දුකෙන් අඬන්නේ මොකද කියලා. දවස් කිහිපයක් යනතුරු අක්කා කෑම කෑවේවත්, සෙල්ලම් කරන්න ගියේවත් නෑ. කළේ ම අඬ අඬා හිටපු එක.

අපට තිබුණු හොඳම රෙදි කෑලිවලින් අපි ෂීෆ්චික්ව ඔතලා පොඩි ලෑලි පෙට්ටියක තැන්පත් කරලා, මිදුලේ වලක් හාරලා වළ දැම්මා. පස්සේ ඒ පුංචි සොහොන උඩට පස් ගොඩකරලා ඒක උඩින් ගලක් හිටෙව්වා.





# පුංචි ෆිලිප්

ෆිලිප් කියලා පොඩි කොලු පැටියෙක් හිටියා. එයත් එක්ක හිටි වැඩිමල් ළමයි හැමෝම දවසක් දා පාසල් යන්න සූදානම් වුණා. තොප්පියකුත් අතට අරගත්ත ෆිල්ප්ගෙත් ලෑස්තිය පාසල් යන්න. ඒත් අම්මා ඇහුවා ''කොහේ යන්නද ෆිලිප් පුතේ මේ ලෑස්තිය?'' කියලා.

''ඉස්කෝලේ යන්න''

''ඔයා තාම පොඩි වැඩියි, යන්න එපා'' කියලා අම්මා ෆිලිප්ව ගෙදර රඳවා ගත්තා.



අනික් ළමයි ඉස්කෝලේ ගියා. අප්පච්චි දර හොයන්න උදෙන්ම කැලේට ගියා. අම්මා කුලී වැඩට ගියා. පැල්පතේ ඉතිරි වුණේ ෆිලිප් පුතයි, මහ උඳුන උඩ උණුසුමට නිදා සිටි අත්තම්මයි විතරයි.

තනියෙම ඉන්නකොට ෆිලිප්ට පාලුවක් දැනුනා. අත්තම්මට නින්ද ගියා. තොප්පිය අරන් තිව්වේ කොහේද කියලා ෆිලිප් හොයන්න පටන් ගත්තා. තමන්ගේ තොප්පිය හොයාගන්න බැරිවුණු තැන තාත්තාගේ පරණ තොප්පියක් දාගෙන, ඉස්කෝලේ යන්න පිටත් වුණා.

ඉස්කෝලය තිබුණේ ගමට එපිටින්, පල්ලිය ළඟයි. තමන් ගැවසෙන පැල්පත් තියෙන හරියෙන් ෆිල්ප් ගියාට බල්ලො බිරුවේ නෑ. උන් ෆිල්ප්ව හඳුනනවා. ඒත් ගමේ නොදන්න අයගේ ගෙවල් මායිමට ගියා විතරයි, ෂූච්කා කියලා බල්ලෙක් බුරාගෙන පැන්නා. ඌගෙ පස්සෙන් ආවේ වල්චෝක් කියලා ලොකු බල්ලෙක්. ෆිලිප් දුවන්න පටන් ගත්තා.

බල්ලෝ ෆිලිප් පස්සේ එළවන්නට වුණා. ෆිලිප් කෑගාගෙන දුවනකොට කකුල් පැටලිලා ඇදගෙන වැටුණා. එතකොටම මිනිහෙක් ඇවිත් බල්ලන් එළවලා දැම්මා.

''වෙඩිල්ල වගේ තනියෙම උඹ මේ කොහේද දුවන්නෙ?'' කියලා එයා ඇහුවා.

ෆිලිප් මොකුත්ම කිවුවේ නෑ. හිම කබාය උස්සගෙන පණ එපයි කියලා දුවන්න පටන් ගත්තා. අන්තිමට ඉස්කෝලේ ළඟටම ඇවිල්ලයි නතර වුණේ. දොරකඩ කවුරුත්ම පේන්න නෑ. ඒත් ඉස්කෝලේ ඇතුළේ ළමයි කෑගාන සද්දේ නම් ඇහෙනවා. ෆිලිප්ගෙ හිත ඇතුළෙ බයක් ඇති වුණා.

''ගුරුතුමා මාව පන්නා දමාවිද දන්නේ නෑ?''

මොනවා කරන්නදෝ කියලා එයා කල්පනා කරන්න පටන් ගත්තා. ආපහු ගියොත් බල්ලෝ හපා කාවි. ගුරුතුමාට තියෙන බය හින්දා ඉස්කෝලෙට යන්නත් බෑ.

ඒ වෙලාවෙ බාල්දියකුත් අරගෙන ගෑනියක් වතුර ගේන්න එතැනින් ගියා.

''හැමෝම ඉගෙන ගන්නවා. උඹ විතරක් මොකද මේ පාර අයිනට වෙලා හිටගෙන ඉන්නේ?'' කියලා ඒ ගැහැනිය ඇහුවා.

ඉතින් ෆිලිප් ඉස්කෝලෙට ගියා. ඉස්කෝලෙට ඇතුළු වෙන්න කලින් තොප්පිය ගලවපු ෆිලිප් දොර ඇරියා. පන්තිය පිරෙන්න ළමයි. හැම එක්කෙනෙක්ම තම තමන්ගේ දේවල් කියෝ කියෝ කෑගානවා. රතු පාට ලොකු ලේන්සුවක් බෙල්ලේ දවටාගෙන ගුරුතුමා හිටියේ පන්තිය මැද්දේ.





''මේ කවුද?'' ගුරුතුමා ෆිලිප්ගෙන් කෑගාලා ඇහුවා.

ෆිලිප් තොප්පිය අතින් මිරිකාගෙන හිටගෙන හිටියා මිසක් කිසි දෙයක් කීවේ නෑ.

''උඹ කවුද කියාපන්''

ෆිලිප් මොකවත්ම කීවේ නෑ.

''ඒයි, උඹ ගොළුද?''

ෆිලිප් කොයිතරම් බයවෙලාද හිටියෙ කිව්වොත් එයාගේ කටින් වචන පිටවුණේ නෑ.



''කතා කරන්න කැමති නැත්නම් ඉතින් ගෙදර පලයන්''

මොනවා හරි කියන්න ෆිලිප්ට තිබුණු ආසාව කොච්චර වුණාත් ඒයාගේ උගුර කට වේලිලා ගිහින් වචන පිටවුණේ නෑ. ගුරුතුමා දිහා බලා හිටි ෆිල්ප්ට ඇඬුම් ආවා.

ගුරුතුමාට ෆිලිප් ගැන දුකක් ඇතිවුණේ ඒ වෙලාවෙයි. ෆිලිප්ගේ හිස අත ගෑ ගුරුතුමා මේ දරුවා කවුදැයි ළමයින්ගෙන් විමසා සිටියා.

''මේ කෝස්ත්‍යාගේ මල්ලී. මෙයාගේ නම ෆිලිප්. හුඟ කාලෙක ඉඳලා ඉස්කෝලේ එන්න ආසාවෙන් හිටියේ. අම්මා එන්න දෙන්නේ නෑ. අද මේ

හොරෙන්ම ඉස්කෝලේ ඇවිත්.''

''හොඳයි, ගිහින් අයියා ගාවින් බංකුවේ වාඩිවෙයන්. මං උඹලගෙ අම්මට කියන්නංකො, උඹව ඉස්කෝලේ එවන්නයි කියලා.''

ගුරුතුමා අකුරු පෙන්වමින් ෆිල්ප්ට අකුරු කියලා දෙන්න පටන් ගත්තා. ෆිලිප් ඒ වෙනකොටත් අකුරු දැනගෙන හිටියා. ටිකක් කියවන්නත් පුළුවන්කම තිබුණා.

''එහෙනම් උඹේ නම ලියපන්''

''අලි ඔලුවෙන් බාගයයි, ල යන්නට නිකම් තොප්පියයි, ප යන්නට කොඩියයි.''

හැමෝම හිනාවුණා.

''බොහොම හොඳයි'' කියලා ගුරුතුමා කිවුවා.

''කවුද උඹට අකුරු කියවන්න ඉගැන්නුවේ?'' කියලා ගුරුතුමා ඇහුවම ෆිලිප් එඩිතරකමින් මෙහෙම කිවුවා.

''කෝස්ත්‍යා අයියා. මං දස්සයනෙ, එකසැරේ ඔක්කොම අල්ලා ගත්තා. මං උපන් හපනෙක් නෙවැ.''

''උඹ පුරසාරම් දොඩන්නේ නැතුව, ඉස්සෙල්ලා ඉගෙන ගනින්'' කියලා ගුරුතුමා හිනාවෙලා කිවුවා.

එදා ඉඳලා අනිත් ළමයිනුත් එක්ක ෆිලිප් ඉස්කෝලේ යන්න පටන් ගත්තා.



# කැලයේදී මහ වැස්සකට හසුවූ හැටි කොලු ගැටයෙක් විස්තර කළ අන්දම

කුඩා සන්දියේ දවසක් දා හතු එකතු කරන්න මාව කැලේට යැව්වා. කැලයට ගිහින් කූඩයක් පිරෙන්න හතු එකතු කරගෙන ආපහු ගෙදර එන්න ලෑස්ති වුණා. එකපාරටම අහස කළුකරලා වැහි වැටුණා. හෙණ හඬත් එක්ක අකුණු ගහන්න පටන් ගත්තා. බයවුණු පාර මං විශාල ඕක් ගහක් යට වාඩි වුණා. එතකොටම කොයිතරම් එළියකින් අකුණක් ගැසුවාද කිව්වොත් මගේ ඇස් දෙක කැක්කුම් ගත්තා. පස්සේ එහෙමම වකුටු වුණා. මගේ ඔලුවට උඩින් මොකක්දෝ ගැස්සිලා හෙළවුණා, පුපුරණ හඬක් නැගුණා. පස්සේ මගේ ඔලුවට මොකකින්දෝ පහරක් වැදුණා. මාව ඇදගෙන වැටුණා. මට සිහිය ආවේ වැස්සත් පැව්වට පස්සේ.

මගේ ඇස් ඇරෙනකොට කැලේ පුරාම තිබුණු ගස්වලින් දිය බිඳු බේරෙමින් තිබුණා. කුරුල්ලෝ ගීත ගායනා කළා. ඉර පායලා නැටුවා. මහා ඕක් ගස කඩා වැටී තිබුණා. මුලට සවි වී තිබුණු ගස් කොටයෙන් දුම් නැගෙමින් තිබුණා. මා වටේටම වැටී තිබුණේ ඕක් ගසේ පතුරු. මා ඇඳගෙන හිටි ඇඳුම තෙතබරි වෙලා ඇඟටම ඇලිලා තිබුණා. ඔලුව උඩ ඕක් ගෙඩියක්. මට යන්තම් වේදනාවක් දැනුණා. පස්සේ මගේ තොප්පිය මට හම්බ වුණා. හතු කූඩෙත් අරගෙන මං ගෙදර දිව්වා.

ගෙදර කවුරුවත් හිටියේ නෑ. මේසය උඩ තිබුණු පාන් කෑල්ලක් කාලා, මහ උඳුන උඩට නැගලා මං නිදාගත්තා. නින්දෙන් අවදි වුණු ගමන් මං දැක්කේ හතු ටික පුච්චලා පිළියෙල කරලා, කෑම මේසෙ උඩ තියලා, කෑමට සූදානම් වන හැටි. එතකොටම මට කෑගැහුණා.

''මට නොදී කන්නද උඹලගේ ලෑස්තිය?''

''උඹ මොකද නිදාගෙන ඉන්නේ? ඉක්මනට ඇවිත් කාපන්'' කියලා ඔවුන් කීවා.





# ගිනි නිවන බල්ලෝ

නගරවල ගිනි ඇති වුණාම බොහෝ වෙලාවට ළමයි ගෙවල්වල තනිවෙනවා. ඔවුන් එළියට ගන්න ක්‍රමයක් නැතිව යනවා. මොකද බියෙන් තැති ගන්න ළමයි කොහේ හෝ හැංගිලා, කෑ ගහන්නේ නැතිව කට පියාගෙන ඉන්න නිසා. ඒ වගේම දුම නිසා ඔවුන් ඉන්න තැනක් පේන්නෙත් නෑ.

ලන්ඩන් නගරයේ බල්ලන් පුහුණු කර, ගිනි ගන්නා ගෙවල්වලින් ළමයින් බේරා ගැනීම සඳහා යොදාගෙන තිබෙනවා. ඒ බල්ලන් ජීවත්වන්නේ ගිනි නිවන භටයින් සමගයි. ගොඩනැඟිල්ලක් ගිනිගත්තම, ගිනි නිවන භටයින් මේ බල්ලන්ව පිටත් කර හරිනවා, ළමයින් බේරාගෙන එන්න. ඒ වගේ එක බල්ලෙක් ළමයින් දොළොස්දෙනකුගේ ජීවිත බේරාගත්තා. ඒ බල්ලාගේ නම බොබී.

දවසක් දා ගෙයක් ගිනිගත්තා. ගිනි නිවන හමුදාවේ භටයින් ඒ ගෙදරට ආ විගස ගැහැනියක් ඔවුන් වෙත දුවගෙන ආවා. ඈ ලතෝන් දෙමින් කියා සිටියේ ඇගේ අවුරුදු දෙකක් වයසැති දියණිය ගිනි ගන්නා නිවසේ සිරවී සිටින බවයි. ගිනි නිවන භටයින් බොබීව පිටත් කර හැරියා.

තරප්පු පෙළ උඩට නැගගත් බොබ් දුම මැදින් නොපෙනී ගියා. මිනිත්තු පහකට විතර පස්සේ බොබ් නිවසින් එළියට ආවා. උගේ දත් අතරේ හිරවුණු ගවොමේ දැවටිලා හිටියේ අර දැරියයි. දුවගොස් දියණිය වැළඳගත් අම්මා, ඇ ජීවතුන් අතර සිටිනවා දැකලා සතුටින් හඬා වැටුණා.

බල්ලාව සුරතල් කළ ගිනි නිවන භටයින් උගේ ඇඟ හැමතැනම පරීක්ෂා කර බැලුවේ ඌ පිලිස්සී නැතිදැයි කියා සැක හැර දැනගැනීමට. ඒත් බොබ් ආයෙත් ගේ ඇතුළට කඩාගෙන දිව්වා. ගිනි නිවන භටයින් කල්පනා කෙළේ ගෙදර තවත් ළමයෙක් සිරවී ඇතැයි කියා. ඒ නිසා බල්ලාට යන්න දුන්නා. ගේ ඇතුළට ගිය බල්ලා ඉක්මනින්ම ආපසු ආවේ තවත් මොකක්දෝ දත්වලින් තදකරගෙන.

බල්ලා අරගෙන ආවේ මොකක්දැයි පරීක්ෂාවෙන් බලපු හැමෝම මහ හයියෙන් හිනා වුණා. උගේ කටේ තිබුණේ ලොකු බෝනික්කෙක්.



# බූල්කා

මට හිටියා හොම්බ තැලුණු බල්ලෙක්. උගේ නම බූල්කා. උගේ මුළු ඇඟම කළු පාටයි. ඒත් ඉස්සරහ ගාත් දෙකේ අග විතරක් සුදු පාටට තිබුණා.

මේ වර්ගයේ බල්ලන්ගේ යටි ඇන්ද උඩු ඇන්දට වඩා දිගයි. උඩු ඇන්දේ දත් පිහිටන්නේ යටි ඇන්දේ දත්වලට පිටුපසින්. බූල්කාගේ දත් ඇඳි දෙක අතර කොතරම් පරතරයක් තිබුණාද කීවොත් ඇඟිල්ලක් දාන්න වුණත් පුළුවන්කම තිබුණා. බූල්කාගේ මුහුණ පළලයි, ඇස් විශාලයි, කළු පාටයි. ඇස් බැබලෙනවා. උගේ සුදුපාට උල් දත් හැම වෙලාවෙම තිබුණේ එළියට පැනලා. ඌ හරියට අප්‍රිකානු මිනිහෙක් වගේ. බූල්කා රණ්ඩුවට යන්නේ නෑ. හපා කන්නෙත් නෑ. හැබැයි ඌ හරිම ශක්තිමත්. ඒ වගේම යමක් ඩැහැගන්නකොට උගේ හකු පූට්ටු වෙනවා. ඌ ගොදුර කිට් කිට්යට දත් අතරෙ හිරකර ගන්නවා මිසක් අතහරින්නේ නෑ. පොල්ලක් වගේ දෙයක් අල්ලාගත්ත වෙලාවක අපි පොල්ල උඩට ඉස්සුවොත් පොල්ල කටින් විකාගෙනම පාංකඩයක් එල්ලෙනවා වගේ එල්ලී ඉන්නවා මිසක් දත්ටික බුරුල් කරන්නේ බූල්කා නෙවෙයි. කූඩැල්ලෙක් වගේ එල්ලී ඉන්නවා මිසක් ගැලවෙන්නේ නම් නෑ.

දවසක් දා වලහෙකුට උසිගන්නලා බූල්කා ගිහින් උගේ කනේ එල්ලුණා. වලහා දැතින් කොච්චර ගැහුවත්, මූණට තියලා තදකර ගත්තත්, හිස වනමින් බූල්කාව පැත්තෙන් පැත්තට විසි කෙරුවත් වලහට බැරිවුණා

උගෙන් ගැලවෙන්න. පස්සේ බූල්කාව යට කරන්න ඔලුව පහළට තියලා වලහා බිම පෙරළුණා. හීතල වතුරෙන් නාවන තුරුම බූල්කා වලහගේ කනේම එල්ලිලා හිටියා.

පොඩි පැටියා කාලෙම අරගෙන ඇවිත් කන්න බොන්න දීලා ඌව හදාවඩා ගත්තේ මම. ඒත් කොකේසියාවේ හමුදා සේවයට යනකොට ඌව ගෙදර දාලා යන්න මම හිතා ගත්තා. යන්න පිටත් වෙනකොට බූල්කාව කාමරයකට දාලා වහන්නයි කියලා, ඌට හොරෙන් හෙමින්ම මං පිටත් වෙලා ආවා. පළමුවෙනි නැවතුම් පොළේදි අස්ස කරත්තයේ ඉස්සරහට ගිහින් වාඩි වෙන්න හිතාගෙන යනකොට කළු පාට දිලිසෙන යමක් පාර දිගේ වේගයෙන් ඇදී එන හැටි මං දැක්කා. බෙල්ලේ දමා තිබූ තඹ පාට පටියත් පිටින් ඒ දුවගෙන ආවේ බූල්කා. ඌ පණ දාගෙන වෙඩිල්ල වගේ නැවතුම් පොළට ඇවිත් තිබුණා. මගේ ඇඟට කඩාගෙන පැනපු බූල්කා අත ලෙවකාලා කරත්තය යට හෙවණේ දිගෑදුණා. අල්ලක් විතර දිගට උගේ දිව එළියට ඇදිලා තිබුණා. වරෙක කෙළ ගිලින්නට දිව කට ඇතුළට ඇදගත් බූල්කා විටෙක අල්ලක් පමණ දිගට දිව එළියට දැම්මා. ඌ හිටියේ කලබලයෙන්. හුස්ම ගන්නවත් වෙලාවක් තිබුණේ නෑ. උගේ ඉල ඇට කූඩුව වේගයෙන් උස් පහත් වුණේ හරියට උඩ පනිනවා වගේ. උඩිබැලි අතට වැටිලා ඒ අතටත් මේ අතටත් පෙරළෙමින් වනන උගේ වලිගය වැදුණේ පොළවටයි.

ජනේලයේ වීදුරුව බිඳගෙන කාමරයෙන් එළියට පැනලා කෙලින්ම මා පැමිණි පාරේ ඉව කරමින්, ගිනි අව්වේ මා හඹා මයිල දොළහක් විතර ඌ දුවගෙන ඇවිත් තිබුණාය කියලා මා දැනගත්තේ ඊට කාලෙකට පස්සෙයි.





# ඉබ්බා

මිල්ටන් කියලා නම තියෙන බල්ලෙක් මට හිටියා. දවසක් දා උෟත් එක්ක මං දඩයමේ ගියා. කැලේට කිට්ටු වුණා විතරයි උෟ ඉව කරන්න පටන් ගත්තා. නගුට දික් කරගෙන, කන් කෙළින් කරගෙන විපරම් කරන්නට වුණා. මං තුවක්කුවට පතුරමකුත් දාගෙන උෟ පිටුපසින් ගියා. වටුකුරුල්ලකුට හරි, වළි කුකුළකුට හරි, හාවකුට හරි ඉව වැටිලා හොයනවයි කියලයි මං හිතුවේ. ඒත් මිල්ටන් කැලේට ගියේ නෑ, තණ බිමෙයි ඇවිද්දේ. උෟ පිටුපසින් වැටිලා උගේ ඉස්සරහින් යන්නේ මොකෙක්දැයි කියලා මං විපරම් කර බැලුවා. එතකොටයි මං දැක්කේ උෟ හෙව්වේ කාවද කියලා. මිල්ටන් ඉස්සරහින් ගියේ තොප්පියක් තරමේ පොඩි ඉබ්බෙක්. බුලත් වංගෙඩියෙන් මෝල්ගහ එළියට පැනලා තියෙනවා වගේ තද අළු පාට උගේ බෙල්ලත් එළියට පැනලා තිබුණා. කකුල් ඈතට විහිදුවා තියමින් උෟ ඉක්මනින් ගමන් කළා. උගේ පිට එහෙම පිටින්ම කට්ටකින් වැසී තිබුණා.

බල්ලාව දැක්කා විතරයි, ඉබ්බා උගේ ඔලුවයි කකුලුයි හංගාගෙන තණ ගොල්ලට පාත් වුණා. එතකොට පේන්න තිබුණේ උගේ කටුව විතරයි. මිල්ටන් උෟව අල්ලාගෙන පෙරලලා හපන්නට වුණා. ඒත් උෟට රිදවන්න මිල්ටන්ට බැරි වුණා. මොකද ඉබ්බන්ගේ පපුව යටත් පිටේ වගේම හයිය ඇති කට්ටක් තියෙන නිසා. හැබැයි ඉස්සරහත්, පස්සෙත්, දෙපැත්තෙත් සිදුරු තියෙනවා. ඒවා අස්සෙන් තමයි ඔලුවත් වලිගයත් කකුලුත් එළියට දාන්නේ.

මිල්ටන් පන්නා දාලා ඉබ්බාව අතට අරගෙන උගේ පිට කටුවේ වයිරම දිහාත් ඒ කටුව සෑදී ඇති ආකාරය දිහාත් ඒ තුළ ඉබ්බා සැඟවී ගන්නා ආකාරය දිහාත් මම පරීක්ෂා කර බැලුවා. ඉබ්බාව අතට අරගෙන කට්ට යට බලනකොට තමයි, වලක් ඇතුළේ තියෙනවා වාගේ කට්ට ඇතුළේ

කිසියම් කළු පාට පණ ඇති දෙයක් තියෙන බව පේන්නේ. මම ඉබ්බාව තණ ගොල්ලේ අතහැර දාලා ඉස්සරහට ගියා. ඒත් ඌව දාලා යන්න මිල්ටන්ගේ අදහසක් තිබුණේ නෑ. ඉබ්බාව කටින් ඩැහැගෙනයි මිල්ටන් මා පිටුපසින් ආවේ. එකවරම මිල්ටන් වේදනාවෙන් කෑ ගසා ඉබ්බාව බිම දැම්මා. බැලුවම ඉබ්බා අතක් එළියට දාලා බල්ලාගේ කට හූරලා. ඉබ්බා ගැන කොතරම් කේන්තියක් මිල්ටන්ට ඇති වෙලා තිබුණාද කීවොත් ඌ බුරන්න පටන් ගත්තා. පස්සේ ආයෙත් ඉබ්බාව කටින් අරගෙන මා පිටුපසින් ආවා. මම නැවත වරක් ඉබ්බා අතහැර දමා එන ලෙස අණ දුන්නා. ඒත් මිල්ටන් මට කීකරු වුණේ නෑ. ඒ සැරේ මම මිල්ටන්ගෙන් ඉබ්බා උදුරාගෙන විසිකළා. ඒත් බල්ලා ඌව අතහරින්න කැමති වුණේ නෑ. මිල්ටන් ඉබ්බා වැටුණු තැනින්ම වලක් හාරන්න පටන් ගත්තා. ඊට පස්සේ කකුල්වලින් ඉබ්බාව වලට තල්ලු කරලා පස් දාලා වැහුවා.

ගැරඬි, ගෙම්බෝ වගේම ඉබ්බොත් මහ පොළොව මතුපිට වගේම වතුරෙත් ජීවත් වෙනවා. උන්ගේ පැටව් ලැබෙන්නේ බිත්තරවලින්. පොළොව හාරලා තමයි ඉබ්බෝ බිත්තර දාන්නේ. උන් කුරුල්ලෝ වගේ බිත්තර රකින්නේ නෑ. මාළු බිත්තරවලින් මාළු පැටව් එනවා වගේ ඉබ්බන්ගේ බිත්තර ඉබේම පුපුරලා ඉබි පැටව් එළියට එනවා. උන් පොඩි පීරිසියක් විතර කුඩායි. ලොකු ඉබ්බෝ රියන් තුනක් විතර දිගයි. හොණ්ඩර පහක් හයක් බරයි. මුහුදේ ඉන්න විසාල ඉබ්බන්ට කියන්නේ කැස්බෑවො කියලා.

එක ඉබ්බෙක් වසන්ත කාලෙට බිත්තර සිය ගණනක් දානවා. ඉබ්බාගේ කට්ටය කියන්නේ උගේ ඉල ඇට කූඩුව. මිනිසුන්ගෙත් අනෙත් සතුන්ගෙත් ඉළ ඇට පිහිටන්නේ එකිනෙකින් වෙන් වෙලා. ඒත් ඉබ්බන්ගේ ඉළ ඇට ඔක්කොම එකතු වෙලා ඉබි කටුව හැදිලා තියෙනවා. වැදගත්ම දේ තමයි, අනෙක් සියලුම සතුන්ගේ ඉළ ඇට මස්වලින් වැහිලා ඇග ඇතුළෙ තියෙන අතරෙ ඉබ්බන්ගේ ඉළ ඇට කූඩුව ඇගට පිටින් පිහිටලා තිබීම. මස් තියෙන්නේ කට්ටට යටින්.





# පැස්බරා

ඇමෙරිකාවේ ඉන්නවා මහා විසාල කුරුලු වර්ගයක්. උන් කොච්චර විශාල ද කීවොත් මිනිස්සු උන්ගේ පිට උඩ නැගලා ගමන් යනවා. ඒ කුරුල්ලෝ කොතරම් වේගයෙන් දුවනවාද කීවොත් අස්සයින් පිට නැගලා ගිහිල්ලාවත් උන්ව අල්ලා ගන්න අමාරුයි. ඒ කුරුල්ලන්ට කියන්නේ පැස්බරුන් කියලා. උන්ව අල්ලා ගන්නේ අශ්වයින්ගේ පිටේ නැගලා ගිහින් එළවලා. උන් මහන්සි වෙලා හෙම්බත් වෙන තුරුම අශ්වයින් පිටේ උන් පස්සේ එළවනවා. දුවලා දුවලා හති වැටුණාට පස්සේ මේ කුරුල්ලෝ පඳුරක් ළඟට දුවගෙන ඇවිත් ඒක අස්සේ ඔලුව හංගා ගන්නවා. එතකොට උන්ට අවට තියෙන කිසිම දෙයක් පේන්නේ නැතිව යනවා. ඒ නිසා උන් හිතනවා, උන්වත් වෙන කිසිවකුට පේන්නේ නැහැයි කියලා.



# හාවා

සීත කාලෙදි ගමට කිට්ටුව පිහිටි ළඳු කැලෑවේ හාවෙක් හිටියා. රෑ වුණාට පස්සේ ඌ එක කණක් උස්සලා සවන් යොමන්න පටන් ගත්තා. ඊට පස්සේ අනෙක් කණත් ඉස්සුවා. කන් දෙකම හරව හරවා බැලුවා, ඉව ඇල්ලුවා. ඊටත් පස්සේ පස්සාගාත් බිම හොවලා වාඩිවුණා. ඊට පස්සෙ උසට පිරුණු හිම ගොඩැලි දිගේ පිම්මක් දෙකක් පැනලා ගිහිල්ලා පස්සා ගාත් දෙකෙන් ආයෙත් වාඩිවෙලා විපරම් කරන්නට වුණා. හාත් පස හිම ඇරෙන්න වෙනත් කිසිම දෙයක් දකින්නට තිබුණේ නෑ. රැලි නැගෙනවා වගේ වැටී තිබුණු හිම, සූකිරි කැට වාගේ දිලිසුණා. හාවාගේ හිසට උඩින්, හිම හීතට නැගෙන දුම් වලාවක් ඉහළ නැගුණා. ඒ දුම අතරින් විශාල දීප්තිමත් තරු දිලිසෙමින් තිබුණා.

හාවෝ කන්න පුරුදු වෙලා හිටිය තිරිඟු අටුවට යන්න, මහ පාරෙන් එපා පැත්තට පනින්න ඕනැ. හිම කරත්ත 'ස්-ස්' හඬ නගමින් ඇදී යන හැටිත් අශ්වයන් වැරෙන් හුස්ම ගන්නා හඬත් හිම කරත්තවල ආසනවලින් නැගෙන 'කිරි-කිරි'යත් මහ පාරට හොඳට ඇහුණා.

හාවා ආයෙත් සැරයක් පාර අසල නතර වුණා. හිම කබාවල කොලර ඉහළට ඔසවාගෙනයි හිම කරත්ත ළඟින් පයින් ඇවිදගෙන ගිය මිනිස්සු ගමන් කෙළේ. ඔවුන්ගේ මුහුණු පේන්න තිබුණේ යාන්තමින්. ඔවුන්ගේ රැවුල්, ඇහි බැම් හිම බැඳිලා සුදු පාට වෙලා තිබුණා. ඒ අයගේ කටවලින් හා නාස් පුඩුවලින් හුමාලය පිටවුණා. ඔවුන්ගේ අශ්වයන් හිටියේ දහඩියෙන් පෙඟිලා. ඒ දහඩියට හිම තුෂාරය ඇලිලා. කරපටියෙන් ගැලට බැඳී සිටි අශ්වයන් ගැල් ඇදගෙන ගමන් කළේ හිමෙන් වැසුණු වලවල්වලට වැටෙමින් හා ඒවායින් ගොඩ එමින්. මිනිස්සු කරත්ත පසු පස දුවයමින්, තවත් විඩයක ඒවා පසු කරමින් ද දුවයමින් අශ්වයන්ට

කසයෙන් තැළුවා. මහල්ලන් දෙදෙනෙක් එක ළඟින් ගමන් කළා. ඒ එක් අයෙක් අනෙකාට කිව්වේ තමන්ගේ අස්සයකු හොරු අරගෙන ගිය හැටි.

ගැල් පේළිය එතැන පසු කර ගියාට පස්සේ හාවා ඉක්මනින්ම පාර මාරුවෙලා අටුවයි කලවිටයි තිබුණු තැනට පිම්මේ දුවලා ගියා. ගැල් පේළියත් එක්ක ගිය බලු පැටියෙක් හාවාව දැක්කා. ඌ බුරාගෙන හාවා පිටුපසින් එළවන්න පටන් ගත්තා. හාවා හිම කණ්ඩි උඩින් පිම්මේ පැනලා ගියා. ඒ හිම කණ්ඩි නිසා හාවා බේරුණා. පිම් දහයක් විතර පැනපු බල්ලා හිමේ එරිලා නතර වුණා. එතකොට හාවාත් නතර වෙලා පස්සා ගාත්වලින් වාඩි වෙලා හෙමින් හෙමින් අටුව ළඟට ගියා. අතරමග තණ ගොල්ලක් ළඟදි ඌට තවත් හාවුන් දෙදෙනකු හමුවුණා. උන් බඩවල් පුරවාගෙන නැටුවා. යාළුවොත් එක්ක සෙල්ලම් කරපු හාවා, ඒ අයත් එක්ක එකතු වෙලා හිම ගොඩ හාරලා හේමන්ත කාලයේ සිටුවපු වගාවල ඇට අහුලාගෙන කාලා එතැනින් පිටත් වුණා. ගමේ කිසිම සද්දයක් තිබුණේ නෑ. පහන් නිවා දාලා තිබුණා. පැලක් අස්සෙන් දරු සිඟිත්තෙක් අඬන සද්දයත්, පැලේ කණුවල බැඳුණු හිම 'ටිකිස්-ටිකිස්' ගාලා පුපුරන සද්දයත් විතරයි ඇහෙන්න තිබුණේ. අටුව ළඟට ගිය හාවාට යාලුවෝ මුණ ගැහුණා. පිරිසිදු කරලා තිබුණු කලවිටේ හැමෝම එකතුවෙලා සෙල්ලම් කළා. කොළ මඩින්න අරගෙන තිබුණු ඕට්ස් මිටියෙන් ඇට කාලා හිමෙන් වැහිලා තිබුණු ගොයම් කොළය මුදුනට නැග ගත්තා. එතැනින් තිරිඟු මිටි ගොඩට පැනලා, ඉනි වැටෙන් රිංගලා තමන්ට



පුරුදු ගිරිකඳුරට ගියා. පෙරදිගින් හිරු කිරණ මතුවෙන්න පටන්ගෙන, තරු බොහොමයක් මැකී ගිහින් තිබුණා. හිම හීතට නැගෙන දුම් වලා වැඩි වැඩියෙන් කැටි ගැසෙමින් මහ පොළොවෙන් ඉහළ නැංගා. අහල ගමේ ගෑනු අවදිවෙලා වතුර ගේන්න ගියා. පිරිමි අටුවෙන් අරගෙන සතුන්ට කෑම දෙන්න ගියා. ළමයි කෑගෑවා, සමහරු ඇඬුවා. පාර දිගේ කලින් දාටත් වැඩියෙන් කරත්ත පේළි ගමන් ගත්තා. ඒ අය මහ හඬින් කතාබහ කළා.

හාවා පාරෙන් එයා පැත්තට පැනලා තමන්ගේ පරණ බිලය ළඟට ආවා. ඊට ටිකක් ඉහළින් තැනක් තෝරාගෙන, හිම හාරලා අලුත් බිලයක් හදාගත්තා. පස්සෙන් පස්සට ගිහින් ඒක ඇතුළට රිංගාගත්තු හාවා කන් දෙක පිට උඩ හොවලා නිදාගත්තා. හැබැයි ඒ, ඇස් දෙකම ඇරගෙන.

ලෙෆ් තොල්ස්තෝයි

# පුංචි ඇත්තන්ට
# ඇත්ත කතා

පරිවර්තනය
රන්ජන දේවමිත්‍ර සේනාසිංහ

නව සකැසුම
මාලක ලලනජීව

ISBN 978-955-1979-77-5

ප්‍රකාශනය



කැනොල් පබ්ලිෂිං හවුස්

මුද්‍රණය
යස ඉසුරු ප්‍රින්ටර්ස්

ප්‍රථම මුද්‍රණය 2018

## දෙමාපියන්ට...

"සැම කෙනකුටම දක්ෂතා ඇත. සොබාදහම අයකුට සංගීත ශ්‍රවණයට ඇති හැකියාව දායාද කොට තිබෙන අතරවාරයේ අයකුට විද්‍යාවන් ඉගැනීමට ඇති නැමියාව දායාද කොට ඇත. තුන්වැන්නාට ශිල්පීය දැත් ලබා දෙන අතරවාරයේ සිව්වැන්නාට චිත්‍රකාරයකුගේ දැස් හිමි කර දී තිබේ. තවත් අයකුට දායාද කොට තිබෙනුයේ ස්වාර්ථයෙන් තොරව මිනිසුන්ට සේවය කිරීමට සූදානම් දයාර්ද හදවතක් පමණි."

ලෙව් තොල්ස්තෝයි





**Kanol Publishing House**
1196/4, Kottawa Road, Pannipitiya
Tel: 011 4336778, 071 3493447
kanolpublish@gmail.com

ISBN 978-955-1979-77-5




**kanolbooks.blogspot.com**

**Rs. 200/-**